ආග්නියා බර්තෝ

චිත්‍ර- වි. සුතේයෙව්

අනුවාදය - දූදිගම වි. රුද්රිගු

# දඟකාර වලස් පැටියා





# දඟකාර වලස් පැටියා

කතාව
ආග්නියා බර්තෝ

චිත්‍ර
වි. සුතේයෙව්

අනුවාදය
දූදිගම වි. රුද්රිගු

නව පරිගණක සකැසුම
මාලක ලලනජීව

ISBN 978-955-1979-11-9

ප්‍රකාශනය

කැනොල් පබ්ලිෂිං හවුස්

මුද්‍රණය
රොනැට් එන්ටප්‍රයිසස්

ප්‍රථම මුද්‍රණය 2010





ඒ කොමත් එක රටෙක
වලස් අම්මා කෙනෙකි, කැලෑවෙක
දුඹුරු පාටින් හැඩකාර
වලස් පැටියෙකි දඟකාර

හැමදා හවස ඇඳිරි වැටුණා ම
ගසමුල ලගිති දෙදෙනා ම
විඩාව හින්දා අම්මා හතිලයි,
විනෝද වීමට පැංචා දඟලයි

''අපොයි මගේ පොඩ්ඩි පුතා බිම
වැටේවි මට බය යි !''

පැංච නිසා මවුට දුක යි
වලස් පැටියා කපටියා
කැලෑවේ දඟ රසිකයා

හික්මීමක් නැත කොලුවට
කැමතිය ඔහු හුරතලේට
මී වදයක් දුටු හැටියෙම
අත් නො සෝදා කෑවා නෙව

අම්මා පුතුට කියයි මෙහෙම
''නොකන් පුතේ කිලිටි අතින් !''
වලස් පැංචා උඩ පනිමින්
මී පැණි කයි තලු මරමින්.





දඟකාර පුතු නිසා
අම්මා අසතුටු වුණා.
පුතුට ඇති ආදරය
නිසා වැඩි විය කෑදරය

මවු පිය දෙදෙන දොඩන විට
පොඩි එකා දමයි කට
කොල්ලො, හිටපිය දඟ නො කර
පියා සැරවෙයි තරවටු කර

පැංචා දුවයි වේගයෙන්
වැදෙයි ගුහාවට පළමුවෙන්
බකල ගහන වලස් සීයාට
ඉඩ නො දෙයි ඇතුළු වීමට



ඊයේ පැංචාට පාර වැරදිලා
"සීයේ දෙන්නකො
පැටියව සොයලා!"
අම්මා කන්නලව් කළා
වැටුනා පැංචා මඩ වලක
දෙපා එරිලා කුණු ගොඩක
අම්මේ මගෙ හැටි බලන්න
අපූරුවට මඩ නාගෙන

අලස් පැංචා පොඩි වුණාට
ගජ හපනෙකි ගොරවන්නට
හුරතලෙට දඟ කරයි
අම්මට ඉන් කරදරයි
අල්ලපු ගෙදරට ගිහිල්ල
පොඩි පැටව ගෙ වලිගෙ හපල

අහළ පහළ පොඩි පැටවුන්
පැංචා දැක දුවති බියෙන්
පොඩි පුතා ගෙ දඟ විසින්
අම්මා දුක්වෙයි සොවින්



බැරිම තැන් වලස් අම්මා
තාත්තට පැමිණිලි කළා
''බලන්නකො, පුතුගේ හැටි
අවවාද දීම වටී !
ගෙදර ඇවිත් ගොරවනවා,
කුරුල්ලන් ගෙ තටු කඩනවා
පොඩි එවුන්ට ගුටි අනිනවා
එක දිගටම දඟ කරනවා !''

"අනේ වලස් හාමිනේ,
දූ දරුවන් හදන්නේ
තාත්ත නොව අම්මනේ,
ඒ බව ඇයි නො දන්නේ !
මැසිවිලි නොකියා ඉන්නකො
පැංචට උපදෙස් දෙන්නකො"



දවස්, මාස ගෙවී ගියා,
පැංචා මෝරා වැඩුනා
මැරවරකම් පුරුදු වුණා,
තාත්තටත් අත එසවුවා !

වලස් රාළ කෝප වුණා
මැරවරයට බැට දුන්නා,
පුතා කියල බැලුවේ නැහැ
දෑතේ හිරි ඇර ගත්තා

අම්මා මුල්ලකට වෙලා
ඉකි බිඳිනවා, මුමුණනවා
"පුතා ටිකක් දඟ කළාම
ඔහොමත් ගුටි බැට දෙනව ද?"

පවුලේ නැත සමගියක්,
පුතා දඟ කාරයෙක්
නැත එයාට හික්මීමක්,
අම්මට මෙය ලොකු දුකක්



ඔවැනි දඟකාර කොල්ලන්
වලස් පැටවුන් අතර
පමණක් නොව, ළමයින් අතරත්
සිටින බව සමහරු කියත්.





ආග්නියා බර්තෝ

# උඟක්කාර වලස් පැටියා




**Kanol Publishing House**
1196/4, Kottawa Road, Pannipitiya
Tel: 011 4336778, 011 4336779

ISBN 978-955-1979-11-9

Rs. 130/-
9"789551"979119"